ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**GIT | 01 | S | I, II**

සාමාන්‍ය තොරතුරු තාක්ෂණ විභාගය, 2015
பொதுத் தகவல் தொழினுட்பவியல், 2015
General Information Technology Examination, 2015

සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I, II
பொதுத் தகவல் தொழினுட்பவியல் I, II
General Information Technology I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

## සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I

වැදගත් :
- **සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු** ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයෙහි සපයන්න.
- පිළිතුරු පත්‍රයේ විභාග අංකය සඳහා ඇති ස්ථානයේ **විභාග අංකය** ලියන්න.
- පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් සැලකිල්ලෙන් කියවා ඒවා පිළිපදින්න.
- අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි** හෝ **වඩාත් ගැළපෙන** හෝ පිළිතුර තෝරා දී ඇති උපදෙස්වලට අනුව ලකුණු කරන්න.

---

**1.** පහත කවර අවස්ථාවක්/අවස්ථා සඳහා අත්ල පරිගණකයක් (tablet computer) වඩාත් උචිත වේ ද?

A - වෙළෙඳ නියෝජිතයකුට සංචාරයෙහි යෙදෙන අතුරතුර භාවිතය සඳහා
B - සිසුන්ගේ දිනපතා පැමිණීමේ දත්ත ඇතුළත් කිරීම සඳහා පාසල් කාර්යාලයක භාවිතයට
C - ක්ෂේත්‍ර චාරිකාවක දී දත්ත ඇතුළත් කිරීමට

(1) A පමණි (2) B පමණි (3) A සහ B පමණි (4) A සහ C පමණි

**2.** පහත දැක්වෙන තර්කණ පරිපථ රූප සටහන සලකන්න.

| A | B | X |
|---|---|---|
| 0 | 0 | |
| 0 | 1 | |
| 1 | 0 | |
| 1 | 1 | |

ඉහත තර්කණ පරිපථය සඳහා, සත්‍යතා වගුවේ දී ඇති ආදානයන්ට අදාළ X ප්‍රතිදාන වන්නේ පිළිවෙළින්,

(1) 0, 0, 0, 0 ය. (2) 0, 1, 0, 1 ය. (3) 0, 1, 1, 0 ය. (4) 1, 0, 1, 0 ය.

**3.** පහත කවර වගන්තිය/වගන්ති සත්‍ය වේ ද?

A - දෘඪ ඩිස්කයට ප්‍රධාන මතකයට වඩා වැඩි ධාරිතාවක් ඇත.
B - විදුලිය විසන්ධි කළ විට ප්‍රධාන මතකයේ අඩංගු දත්ත නැතිවන නමුත් දෘඪ ඩිස්කයේ රැඳුණු දත්ත නැති නොවේ.
C - ප්‍රධාන මතකයේ ඇති දත්ත ආචයනය සඳහා ඉලෙක්ට්‍රොනික පරිපථ භාවිත වන අතර දෘඪ ඩිස්කයන්හි ඇති දත්ත ආචයනය සඳහා චුම්බකිත මාධ්‍ය භාවිත වේ.

(1) A පමණි (2) B පමණි (3) C පමණි (4) A, B සහ C සියල්ල ම

**4.** බැටරියක් සහ ස්විච දෙකක් (A සහ B) භාවිත කර බල්බයක් ක්‍රියා කරවන පරිපථ දෙකක් පහත **1** සහ **2** රූපවලින් දැක්වේ.

A B බල්බය බැටරිය

රූපය 1

A B බල්බය බැටරිය

රූපය 2

පහත තර්කණ ද්වාර යුගලවලින් කවරක් ඉහත **1** හා **2** රූපයන්ගෙන් දැක්වෙන පරිපථවල ක්‍රියාකාරිත්වයන් පිළිවෙළින් නිරූපණය කරයි ද?

(1) (2) (3) (4)

/දෙවැනි පිටුව බලන්න.

**5.** ගොනු හතරක් සහ ඒවායේ විශාලත්වයන් **1 වගුවේ** දැක්වේ. දැනට 3 GB පාවිච්චි වී ඇති සම්පූර්ණ ධාරිතාව 4 GB වන සැනෙලි මතකයක (flash memory) ආචයනය කළ හැක්කේ ඉහත ගොනුවලින් කවරක් ද?

(1) A සහ B පමණි (2) A සහ C පමණි
(3) B සහ C පමණි (4) C සහ D පමණි

වගුව 1

| ගොනුව | විශාලත්වය(MB) |
|---|---|
| A | 224 |
| B | 770 |
| C | 815 |
| D | 1025 |

**6.** 100110 ද්විමය (binary) සංඛ්‍යාව සඳහා තුල්‍ය වන දශමය (decimal) සංඛ්‍යාව පහත කුමක් ද?

(1) 27 (2) 30 (3) 38 (4) 43

**7.** 73 දශමය (decimal) සංඛ්‍යාව සඳහා තුල්‍ය වන ද්විමය (binary) සංඛ්‍යාව පහත කවරක් ද?

(1) 1000101 (2) 1001001 (3) 1010001 (4) 1100001

**8.** පහත දැක්වෙන ප්‍රකාශ සලකන්න.

A - අධෝරක්ත (infrared) සම්ප්‍රේෂණය නොනියමු (unguided) මාධ්‍යය භාවිතයට උදාහරණයකි.
B - දිගු දුර, දත්ත සම්ප්‍රේෂණය සඳහා සාමාන්‍යයෙන් භාවිත කරන ක්ෂුද්‍ර තරංග (micro wave) සම්ප්‍රේෂණය, විකිරිත දත්ත මාධ්‍යයට (radiated) උදාහරණයකි.
C - ප්‍රකාශ තන්තු (fibre optic) රැහැන් නොනියමු මාධ්‍ය සඳහා උදාහරණ වේ.

ඉහත කවර ප්‍රකාශයක්/ප්‍රකාශ සත්‍ය වේ ද?

(1) A පමණි (2) B පමණි (3) A සහ B පමණි (4) B සහ C පමණි

**9.** විද්‍යුත් තැපැල් මෘදුකාංගයක මකන ලද පණිවුඩ (deleted messages) තැන්පත් කිරීමට යොදා ගන්නා නාමාවලියේ (folder) නම වීමට වඩාත් ම ඉඩ ඇත්තේ පහත කුමක් ද?

(1) Drafts (2) Inbox (3) Sent (4) Trash

**10.** පහත කවර වගන්තියක්/වගන්ති සත්‍ය වේ ද?

A - අන්තර්ජාලයේ ඇති පරිගණක හඳුනාගැනීම සඳහා IP ලිපින භාවිත කෙරේ.
B - අන්තර්ජාලය හා ලෝක විසිරි වියමන (WWW) එකිනෙකට වෙනස් දෙකක් වන නමුත් එකිනෙක හා බැඳුණු ද වේ. ලෝක විසිරි වියමන අන්තර්ජාලයේ ඇති සේවාවක් වන අතර අන්තර්ජාලය එවැනි සේවා පහසුකම් සලසන ජාලමය යටිතලය වේ.
C - ඇමුණුම් (attachments) ලෙස විද්‍යුත් තැපෑලෙන් යැවිය නොහැකි වීඩියෝ වැනි ඇතැම් විශාල ගොනු, ගොනු හුවමාරු නියමාවලිය (FTP) උපයෝගී කොට යැවිය හැකි ය.

(1) B පමණි (2) C පමණි (3) A සහ B පමණි (4) A, B සහ C සියල්ල ම

**11.** පාසල් පුස්තකාලයක ඇති පොත්වල දත්ත ආචයනය කිරීමට භාවිත කරනු ලබන දත්ත සමුදා වගුවක ප්‍රාථමික යතුර (primary key) සඳහා වඩාත් ම යෝග්‍ය වන ක්ෂේත්‍රය (field) වන්නේ පහත කුමක් ද?

(1) කතෘ නාමය (2) පොතෙහි නම (3) ISBN අංකය (4) මිල

- **12, 13** සහ **14** ප්‍රශ්න සඳහා පිළිතුරු දීමට පහත දක්වා ඇති දත්ත සමුදා වගුව සලකා බලන්න. මෙම වගුවෙන් පාසල් ආපන ශාලාවක අලෙවිය සඳහා ඇති ද්‍රව්‍යවල දත්ත දැක්වේ.

| Product_ID | Product_Description | Quantity | Unit_Price | Supplier_ID |
|---|---|---|---|---|
| P001 | Yoghurt | 25 | 30.00 | S02 |
| P002 | Milk (Vanilla) | 35 | 20.00 | S02 |
| P003 | Milk (Chocolate) | 25 | 20.00 | S02 |
| P004 | Peanut Packs | 55 | 10.00 | S05 |

**12.** 'Unit_Price' සඳහා වඩාත් ම උචිත දත්ත ප්‍රරූපය (data type) වන්නේ කුමක් ද?

(1) බූලියානු (Boolean) (2) මුදල් (Currency)
(3) සංඛ්‍යාත්මක (Number) (4) පාඨ (Text)

**13.** මෙම වගුවේ කොපමණ රෙකෝඩ සංඛ්‍යාවක් තිබේ ද?

(1) 4 (2) 5 (3) 20 (4) 25

**14.** ප්‍රාථමික යතුර (primary key) සඳහා වඩාත් ම යෝග්‍ය වන ක්ෂේත්‍රය (field) පහත ඒවායින් කුමක් ද?

(1) Product_ID (2) Quantity (3) Supplier_ID (4) Unit_Price

**15.** පහත දැක්වෙන කවරක් ඔබ විසින් භාවිත කරනු ලබන විද්‍යුත් තැපැල් මෘදුකාංගයක මුරපදයකට උචිත වේ ද?

A - ඔබගේ සම්පූර්ණ නම (අතර මැද අවකාශ නොමැතිව)
B - අඩුතරමින් එක් ලොකු අකුරක් (capital letter), එක් සරල අකුරක් (simple letter), එක් සංඛ්‍යාංකයක් (digit) සහ %වැනි විශේෂ සලකුණ ඇතුළු ව, අක්ෂර අටකට වැඩි පදයක්
C - ඔබගේ උපන් දිනය

(1) A පමණි (2) B පමණි (3) A සහ B පමණි (4) A, B සහ C සියල්ල ම

/තුන්වැනි පිටුව බලන්න.

**16.** පහත කුමක් මෙහෙයුම් පද්ධතියක් වේ ද?
(1) මයික්‍රොසොෆ්ට් පවර්පොයින්ට් (Microsoft Powerpoint)
(2) මයික්‍රොසොෆ්ට් වර්ඩ් (Microsoft Word)
(3) ඕපන්ඔෆිස් ඉම්ප්‍රෙස් (OpenOffice Impress)
(4) උබුන්ටු (Ubuntu)

**17.** මේඛලා උසස් පෙළ සඳහා ඉංග්‍රීසි සාහිත්‍යය, බටහිර සංගීතය සහ භූගෝල විද්‍යාව හදාරයි. ඇය තම ග්‍රාමයේ සාමාන්‍ය පෙළ හදාරණ සිසුන් කිහිප දෙනකුට ඉංග්‍රීසි සහ ගණිතය ද උගන්වයි. ඇයගේ විනෝදාංශය සංගීතයයි. ඉහත ක්ෂේත්‍රයන්ට අදාළ ව ඇය සතුව ඇති බොහෝ ගොනු ඇය පරිගණකයේ සුදුසු නාමාවලි ව්‍යුහයක් සාදා එහි ආචයනය කිරීමට බලාපොරොත්තු වෙයි.

පහත කුමන නාමාවලි ව්‍යුහය එය සඳහා වඩාත් උචිත වේ ද? (සැ.යු: විනෝදාංශය – Hobby, ඉගෙනගැනීම් – Studies, ඉගැන්වීම් –Teaching)




**18.** පහත දැක්වෙන ප්‍රකාශවලින් කවරක් සත්‍ය වේ ද?
A - පරිගණකයක් මෙහෙයුම් පද්ධතියක් නොමැතිව පහසුවෙන් භාවිත කළ හැකි ය.
B - නිර්ඛණ්ඩක (defragmentation) උපයෝගිතා ඩිස්කයක යාබද ව නොමැති ගොනු යාබද ගොනු බවට පත් කර එහි කාර්ය සාධනය ප්‍රශස්තකරණය (optimize) කරයි.
C - පරිගණකයක මූලික පරිස්ථිතිය (settings) පාලනය කිරීමට, මෙහෙයුම් පද්ධති අතුරු මුහුණත භාවිත කළ හැකි ය.
(1) A සහ B පමණි (2) A සහ C පමණි (3) B සහ C පමණි (4) A, B සහ C සියල්ල ම

**19.** පහත දැක්වෙන ප්‍රකාශ සලකන්න.
A - ලේඛනයක අක්ෂර වින්‍යාසය හා කාරක රීති නිවැරදි ද බැලීම
B - දෘඪාංගවල ඇති තර්කණ ද්වාර පාලනය කිරීම සහ ක්‍රියාකරවීම
C - පරිගණක පද්ධතියක සම්පත් සහ ආදාන ප්‍රතිදාන උපක්‍රම කළමනාකරණය
ඉහත ප්‍රකාශවලින් කවරක් මෙහෙයුම් පද්ධතියෙහි කාර්යයන් වන්නේ ද?
(1) A පමණි (2) B පමණි (3) C පමණි (4) A, B සහ C සියල්ල ම

**20.** වදන් සැකසුම් පැකේජයක ඇති ඇතැම් මෙනු ශීර්ෂ සහ උපමෙනු ශීර්ෂ A සහ B තීරු දෙකෙහි පිළිවෙළින් ලැයිස්තුගත කර ඇත.

| A | B |
|---|---|
| A1. Insert | B1. Margins, Orientation, Size |
| A2. Page Layout | B2. Print Layout, Outline, Zoom |
| A3. View | B3. Table, Picture, Header, Footer |

A සහ B තීරු අතර නිවැරදි ගැළපීම වන්නේ,
(1) A1:B1, A2:B2, A3:B3
(2) A1:B2, A2:B3, A3:B1
(3) A1:B3, A2:B1, A3:B2
(4) A1:B3, A2:B2, A3:B1

**21.** වදන් සැකසුම් පැකේජයක ඇති පහත දැක්වෙන කුමන අයිකනය බුලට් ලැයිස්තුවක් නිර්මාණය කිරීමට භාවිත කළ හැකි ද?

(1) 
 (2) 
 (3) 
(4) 

**22.** වදන් සැකසුම් කළ ලේඛනයක ඇති $x = n_1 + n_2$ යන සමීකරණය සලකන්න. වදන් සැකසුම් පැකේජයක ඇති පහත කුමන අංගය 1 සහ 2 සංඛ්‍යා, සමීකරණයෙහි පෙන්වා ඇති ආකාරයට දර්ශනය කිරීමට උපකාරී වේ ද?
(1) අකුරු වර්ගයෙහි මුහුණත (font face) වෙනස් කිරීම
(2) අකුරු වර්ගයෙහි ප්‍රමාණය (font size) වෙනස් කිරීම
(3) යටි ලකුණ (subscript)
(4) උඩු ලකුණ (superscript)

[හතරවැනි පිටුව බලන්න.

**23.** සමර්පන මෘදුකාංගයක කදා දර්ශන ප්‍රකාරය (slide show mode) භාවිත කරමින් සිටින ගුරුවරියකට පන්තියෙහි අවධානය සුළු වේලාවකට දැනට පවතින කදාවෙන් ඉවත් කර තමන් වෙත යොමු කර ගැනීමට අවශ්‍ය වේ. මේ සඳහා පහත කුමන යතුර එබීම සුදුසු ද?

(1) A (2) B (3) F1 (4) F5

**24.** විද්‍යුත් සමර්පණ කදා සැලසුමට අදාළ පහත වගන්ති සලකන්න.

A - කියවන්නාට අන්තර්ගතය පහසුවෙන් තේරුම්ගත හැකි වන පරිදි කදා ඉතා සරලව තිබිය යුතු ය.
B - හැකි නම් සෑම කදාවක් ම ස්වාධීනව පැවතීම සුදුසු ය.
C - වර්ණ සහ පාඨ ඵලදායී ලෙස යොදාගත යුතු ය.

ඉහත කවරක් නිවැරදි වේ ද?

(1) A සහ B පමණි (2) A සහ C පමණි (3) B සහ C පමණි (4) A, B සහ C සියල්ල ම

**25.** සමර්පන මෘදුකාංගවලට අදාළ පහත වගන්ති සලකන්න.

A - සමර්පණයකට විඩියෝ පසුරක් (video clip) ඇතුළු කළ නොහැකි ය.
B - සමර්පණයකට වගුවක් ඇතුළත් කිරීමට සමර්පණ මෘදුකාංගයේ මෙවලම් තීරුවේ ඇති මෙවලම භාවිත කළ හැක.
C - timing අංගය මගින් සමර්පණ ස්වයංක්‍රියව ක්‍රියා කරවිය හැකි ය.

ඉහත කුමක් සත්‍ය වේ ද?

(1) A සහ B පමණි (2) A සහ C පමණි (3) B සහ C පමණි (4) A, B සහ C සියල්ල ම

**26.** පොත් සාප්පුවක 2015 වසරේ සාහිත්‍ය මාසය තුළ අලෙවියට තිබූ පොත් ලැයිස්තුවක් පහතින් ඇති පැතුරුම් පත් කොටසෙහි දැක්වේ. සියලු ම පොත් සඳහා වට්ටම් අගය B9 කෝෂයෙහි දක්වා ඇත.

| | A | B | C | D | E |
|---|---|---|---|---|---|
| 1 | | | | | |
| 2 | BookNo | Book Title | Regular Price | Sale Price | |
| 3 | 0001 | Baddegama(Village in the Jungle) | 325 | | |
| 4 | 0002 | Madolduwa | 200 | | |
| 5 | 0003 | Space Odessy | 400 | | |
| 6 | 0004 | Clever Poet and Rice Grains | 225 | | |
| 7 | | | | | |
| 8 | | | | | |
| 9 | Discount | 20% | | | |
| 10 | | | | | |
| 11 | | | | | |

පොත් අංක (BookNo) '0001' පොතෙහි අඩු කළ පසු මිල (sale price) D3 කෝෂයේ දැක්වීමට සූත්‍රයක් ලියනු ලබයි. අනෙකුත් පොත්වල අඩු කළ පසු මිල දැක්වීම සඳහා මෙම සූත්‍රය D4 : D6 කෝෂ පරාසයට පිටපත් කරනු ලැබේ. D3 කෝෂයෙහි ලිවිය යුතු වලංගු සූත්‍රය පහත කුමකින් දැක්වේ ද?

(1) =C2 -C2*$B9 (2) =C2 -C2*$B$9
(3) =C2 -C2*B9 (4) =C2 -C2*B9$

**27.** පහත කුමක් වලංගු SUM ශ්‍රිතය/ශ්‍රිතයක් වේ ද?

Ⓐ SUM(A2,A3:A5)

Ⓑ SUM(A3:A7)

Ⓒ SUM(A3,A4,A7)

(1) Ⓐ පමණි (2) Ⓑ පමණි (3) Ⓐ සහ Ⓑ පමණි (4) Ⓐ, Ⓑ සහ Ⓒ සියල්ල ම

**28.** පහත කුමක් වලංගු සමීකරණයක්/සමීකරණ වේ ද?

Ⓐ =A3+A5

Ⓑ =A3+A5+SUM(K1:K6)

Ⓒ SUM(K1:K6)

(1) Ⓐ පමණි (2) Ⓑ පමණි (3) Ⓒ පමණි (4) Ⓐ සහ Ⓑ පමණි

/පස්වැනි පිටුව බලන්න.

**29.** පහත දැක්වෙන පැතුරුම්පත් කොටස සලකන්න.

C2 කෝෂයෙහි ඇති සූත්‍රය C3:C6 පරාසයට පිටපත් කරනු ලැබේ. පිළිවෙළින් C2 සහ C5 කෝෂවල දැක්වෙන අගයන් කුමක් ද?

| | A | B | C | D | E |
|---|---|---|---|---|---|
| 1 | name | marks | | | |
| 2 | saman | | =RANK(B2,$B$2:$B$6) | | |
| 3 | anwar | 67 | RANK(number, ref, [order]) | | |
| 4 | thabotharn | 90 | | | |
| 5 | nazeer | [illegible] | | | |
| 6 | Kamala | [illegible] | | | |
| 7 | | | | | |

(1) 3, 5 (2) 5, 3

(3) 34, 68 (4) 34, 80

**30.** පහත කුමන මාධ්‍ය අතුරෙන් කවරක් සන්නිවේදනය සඳහා ආලෝක තරංග යොදා ගනී ද?

(1) සමාක්ෂ රැහැන් (co-axial cable) (2) ප්‍රකාශ තන්තු (optical fiber)

(3) ඇඹරි යුගල (twisted pair) (4) USB රැහැන්

**31.** පහත මාධ්‍ය සලකන්න.

A - ඇඹරි යුගල රැහැන්

B - USB රැහැන්

C - ප්‍රකාශ තන්තු රැහැන්

ඉහත දැක්වෙන මාධ්‍ය අතුරෙන් කවරක් උකුල් පරිගණකයක (laptop computer) සිට තනිව භාවිත කරන මුද්‍රකයකට (printer) කෙලින්ම සම්බන්ධ කිරීම සඳහා වඩාත්ම යෝග්‍ය වේ ද?

(1) A සහ B පමණි (2) A සහ C පමණි (3) B සහ C පමණි (4) A, B සහ C සියල්ල ම

**32.** පහත දැක්වෙන කවරක් තනිව භාවිත කෙරෙන පරිගණකයකට වඩා පරිගණක ජාලයක ඇති වාසි වේ ද?

A - ජාලයෙහි ඇති යන්ත්‍ර අතර දත්ත හවුලේ භාවිත කිරීමට හැකිවීම

B - ජාලයෙහි ඇති යන්ත්‍රවලට ද්වේශසහගත මෘදුකාංගවලින් ඇති විය හැකි ප්‍රහාරවල අවදානම අඩු වීම

C - මධ්‍ය සේවාදායකයෙහි ඇති මෘදුකාංග යෙදුම් හවුලේ භාවිතය

(1) A පමණි (2) B පමණි (3) A සහ B පමණි (4) A සහ C පමණි

**33.** ආරක්ෂා සහිත ව පාර හරහා මාරුවීමට අදාළ පියවර දකුණේ ඇති ගැලීම් සටහනින් දැක්වේ. එයට අදාළ ක්‍රියාකාරකම් පහත Ⓟ, Ⓠ, Ⓡ, Ⓢ පරිදි වේ.

Ⓟ පරිස්සමින් පාර හරහා මාරු වන්න.

Ⓠ කහ ඉර ළඟ නවතින්න.

Ⓡ දකුණ, වම සහ නැවත දකුණ බලන්න.

Ⓢ දෙපැත්තෙන් ම පාර පැහැදිලි ද (නිදහස් ද)

පහත දැක්වෙන කුමකින් නිවැරදි ගැළපීම දැක්වේ ද?




(1) A : Ⓠ, B : Ⓟ, C : Ⓡ, D : Ⓢ

(2) A : Ⓠ, B : Ⓡ, C : Ⓢ, D : Ⓟ

(3) A : Ⓡ, B : Ⓢ, C : Ⓠ, D : Ⓟ

(4) A : Ⓢ, B : Ⓡ, C : Ⓠ, D : Ⓟ

**34.** මාර්ගගත විද්‍යුත් තැපැල් ගිණුමක පරිශීලක ලොග් ක්‍රියාවලිය දකුණේ ඇති ගැලීම් සටහනින් දැක්වේ.

එයට අදාළ ක්‍රියාකාරකම් Ⓟ, Ⓠ, Ⓡ, Ⓢ වශයෙන් පහත දක්වා ඇත.

Ⓟ – "වැරදියි" ප්‍රතිදානය කරන්න

Ⓠ – පරිශීලක නම සහ මුරපදය වලංගු ද

Ⓡ – පරිශීලක නම හා මුරපදය ඇතුළත් කරන්න

Ⓢ – පරිශීලකයා පද්ධතියට ඇතුළු කරන්න

පහත කුමකින් නිවැරදි ව ගැළපීම දැක්වේ ද?




(1) A : Ⓟ, B : Ⓠ, C : Ⓡ, D : Ⓢ

(2) A : Ⓠ, B : Ⓡ, C : Ⓟ, D : Ⓢ

(3) A : Ⓡ, B : Ⓠ, C : Ⓟ, D : Ⓢ

(4) A : Ⓢ, B : Ⓠ, C : Ⓡ, D : Ⓟ

/හයවැනි පිටුව බලන්න.

**35.** පහත කවරක් මෙම ගැලීම් සටහනෙන් නිරූපණය වන ක්‍රියාවලිය වඩාත් ම හොඳින් පෙන්වයි ද?




(1)
```
If A Then
    Do B
    If F Then
        Do D
    Endif
    Do G
Else
    Do E
Endif
```

(2)
```
If A Then
    Do B
    If F Then
        Do G
    Endif
    Do D
Else
    Do E
Endif
```

(3)
```
If A Then
    Do B
    If F Then
        Do G
    Endif
    Do D
Endif
Do E
```

(4)
```
If A Then
    Do E
Else
    Do B
    If F Then
        Do G
    Endif
    Do D
Endif
```

**36.** හිස්තැන් සහිත පහත වගන්තිය සලකන්න.

............................ මෘදුකාංගයක ඇති ප්‍රභව කේතය, එය නිර්මාණය කළ පුද්ගලයා, කණ්ඩායම හෝ සංවිධානය හැර වෙන කිසිවකුට වෙනස් කිරීමට හෝ පාලනය කිරීමට නොහැකි වන නමුත් ............................ මෘදුකාංග භාවිතයට, වෙනස් කිරීමට සහ බෙදා හැරීමට නිදහස් බලපත්‍ර ඇත.

ඉහත හිස්තැන් පිරවීම සඳහා පහත දැක්වෙන කුමන වාක්‍ය කණ්ඩ පිළිවෙළින් ගැළපේ ද?

(1) සංවෘත ප්‍රභව (closed source), වාණිජ (commercial)
(2) වාණිජ, සංවෘත ප්‍රභව
(3) නිදහස් සහ විවෘත ප්‍රභව (free and open source), හිමිකම් සහිත (proprietary)
(4) හිමිකම් සහිත, නිදහස් සහ විවෘත ප්‍රභව

**37.** හිස්තැනක් සහිත පහත වගන්තිය සලකන්න.

............... ගේ කාර්යභාරයට මාර්ගකාරක (router), ස්විච, ගිනිපවුරු (firewalls) වැනි දෑ නඩත්තු කිරීම ඇතුළත් වේ.

ඉහත හිස්තැනට වඩාත් ම ගැළපෙන තනතුරු නාමය වනුයේ,

(1) පරිගණක ප්‍රකාශක (desktop publisher) ය.
(2) ජාල පරිපාලක (network administrator) ය.
(3) මෘදුකාංග ඉංජිනේරු (software engineer) ය.
(4) පද්ධති විශ්ලේෂක (systems analyst) ය.

**38.** වෙබ් භාවිතයට අදාළ පහත දෑ සලකන්න.

A - මාස දෙකකට වඩා පැරණි විද්‍යුත් තැපැල් පණිවුඩ මකා දැමීම
B - සමාජ වෙබ් අඩවි මගින් පමණක් මුණ ගැසී ඇති අයකු මුහුණට මුහුණ මුණගැසීමෙන් වැළකීම
C - ණය කාඩ්පත් අංකය (credit card number) වැනි රහස්‍ය තොරතුරු විද්‍යුත් තැපැල් මගින් යැවීම

ඉහත දෑ අතුරෙන් ආරක්ෂාකාරී ලෙස වෙබ් භාවිතයට අදාළ ක්‍රියාමාර්ග මොනවා ද?

(1) A සහ B පමණි.
(2) A සහ C පමණි.
(3) B සහ C පමණි.
(4) A, B සහ C සියල්ල ම ය.

**39.** නිවසේ ඇති තම පරිගණකයට අන්තර්ජාලයෙන් ගොනු බාගත කිරීම සෙමෙන් සිදුවන බව සමන් පවසයි. එයට විසඳුම් ලෙස පහත දෑ ඔහුගේ මිතුරෙක් ඔහුට යෝජනා කරයි.

A - පරිගණකයට බාහිර දෘඪ ඩිස්කයක් සවිකර ගැනීම
B - වඩාත් හොඳ චිත්‍රක කාඩ්පතක් පරිගණකයට සවි කිරීම
C - එම ප්‍රදේශයේ වැඩි විකාශන ධාරිතාවක් (bandwidth) සපයන අන්තර්ජාල සේවා සැපයුම්කරුවකුගේ (ISP) සේවය ලබාගැනීම

ඉහත යෝජනාවලින් කවරක් සුදුසුවේ ද?

(1) A පමණි
(2) C පමණි
(3) A සහ C පමණි
(4) B සහ C පමණි

**40.** පහත සඳහන් දෑ සලකන්න.

A - පරිගණකයෙහි දෘඩාංග පිරිවිතර
B - අලෙවිකරණ වෙළෙඳ ආයතනයෙහි කීර්තිනාමය
C - වගකීම් කාලය සහ අලෙවියෙන් පසු සේවාවේ ගුණාත්මක බව

පරිගණකයක් මිල දී ගන්නා විට ඉහත කුමන කාරණා වැදගත් වේ ද?

(1) A සහ B පමණි
(2) A සහ C පමණි
(3) B සහ C පමණි
(4) A, B සහ C සියල්ල ම

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

GIT | 01 | S | I, II

සාමාන්‍ය තොරතුරු තාක්ෂණ විභාගය, 2015
பொதுத் தகவல் தொழினுட்பவியல், 2015
General Information Technology Examination, 2015

සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I, II
பொதுத் தகவல் தொழினுட்பவியல் I, II
General Information Technology I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

## සාමාන්‍ය තොරතුරු තාක්ෂණය I

**වැදගත් :**
* **සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු** ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයෙහි සපයන්න.
* පිළිතුරු පත්‍රයේ විභාග අංකය සඳහා ඇති ස්ථානයේ **විභාග අංකය** ලියන්න.
* පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් සැලකිල්ලෙන් කියවා ඒවා පිළිපදින්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි** හෝ **වඩාත් ගැළපෙන** හෝ පිළිතුර තෝරා දී ඇති උපදෙස්වලට අනුව ලකුණු කරන්න.

**1.** පහත කවර අවස්ථාවක්/අවස්ථා සඳහා අත්ල පරිගණකයක් (tablet computer) වඩාත් උචිත වේ ද?
A - වෙළෙඳ නියෝජිතයකුට සංචාරයෙහි යෙදෙන අතුරතුර භාවිතය සඳහා
B - සිසුන්ගේ දිනපතා පැමිණීමේ දත්ත ඇතුළත් කිරීම සඳහා පාසල් කාර්යාලයක භාවිතයට
C - ක්ෂේත්‍ර චාරිකාවක දී දත්ත ඇතුළත් කිරීමට
(1) A පමණි (2) B පමණි (3) A සහ B පමණි (4) A සහ C පමණි

**2.** පහත දැක්වෙන තර්කණ පරිපථ රූප සටහන සලකන්න.

| A | B | X |
|---|---|---|
| 0 | 0 | |
| 0 | 1 | |
| 1 | 0 | |
| 1 | 1 | |

ඉහත තර්කණ පරිපථය සඳහා, සත්‍යතා වගුවේ දී ඇති ආදානයන්ට අදාළ X ප්‍රතිදාන වන්නේ පිළිවෙළින්,
(1) 0, 0, 0, 0 ය. (2) 0, 1, 0, 1 ය. (3) 0, 1, 1, 0 ය. (4) 1, 0, 1, 0 ය.

**3.** පහත කවර වගන්තිය/වගන්ති සත්‍ය වේ ද?
A - දෘඪ ඩිස්කයට ප්‍රධාන මතකයට වඩා වැඩි ධාරිතාවක් ඇත.
B - විදුලිය විසන්ධි කළ විට ප්‍රධාන මතකයේ අඩංගු දත්ත නැතිවන නමුත් දෘඪ ඩිස්කයේ රැඳුණු දත්ත නැති නොවේ.
C - ප්‍රධාන මතකයේ ඇති දත්ත ආචයනය සඳහා ඉලෙක්ට්‍රොනික පරිපථ භාවිත වන අතර දෘඪ ඩිස්කයන්හි ඇති දත්ත ආචයනය සඳහා චුම්බකිත මාධ්‍ය භාවිත වේ.
(1) A පමණි (2) B පමණි (3) C පමණි (4) A, B සහ C සියල්ල ම

**4.** බැටරියක් සහ ස්විච දෙකක් (A සහ B) භාවිත කර බල්බයක් ක්‍රියා කරවන පරිපථ දෙකක් පහත **1** සහ **2** රූපවලින් දැක්වේ.




රූපය 1 රූපය 2

පහත තර්කණ ද්වාර යුගලවලින් කවරක් ඉහත **1** හා **2** රූපයන්ගෙන් දැක්වෙන පරිපථවල ක්‍රියාකාරීත්වයන් පිළිවෙළින් නිරූපණය කරයි ද?

(1) (2) (3) (4)

/දෙවැනි පිටුව බලන්න.

**2.** (අ) බාහිර ලෝකය හා සම්බන්ධිත පාසල් පරිගණක ජාලයක කොටසක් පහත රූප සටහනේ දැක්වේ. Ⓐ, Ⓑ හා Ⓒ ලෙස ලේබල් කර ඇති අයිතම හඳුනාගෙන ලියන්න.




(ආ) (i) පහත දක්වා ඇති ඒකාකාර සම්පත් නිශ්චායකය (URL) සලකා බලන්න.




ඉහත ඒකාකාර සම්පත් නිශ්චායකයෙහි විවිධ කොටස් නිරූපණය කිරීමට භාවිත කර ඇති Ⓟ සිට Ⓢ දක්වා වන ලේබල පහත ලැයිස්තුවෙහි ඇති අක්ෂර සමග ගළපන්න.

{A : ගොනු නාමය, B : වෙබ් අතිරික්සුව හා වෙබ් සේවාදායකය අතර සන්නිවේදනයට යොදා ගැනෙන නියමාවලිය (protocol), C : උප වසම් නාමය (sub-domain), D: ඉහළ මට්ටමේ වසම (top level domain)}

(ii) පාසලෙහි තොරතුරු තාක්ෂණ ගුරුතුමා විසින් අමර, රකේෂ්, කමලා, නසීර් සහ සාමා යන පස්දෙනා වෙත යැවීමට පිළියෙල කර ඇති පහත රූපයෙහි දැක්වෙන විද්‍යුත් තැපැල් ලිපිය (email) සලකන්න.




පහත එක් එක් අය වෙත යැවෙන ලිපියෙහි පෙන්වන විද්‍යුත් තැපැල් ලිපින ලැයිස්තුගත කරන්න.

A - නසීර් (Nazeer)

B - කමලා (Kamala)

C - අමර (Amara)

/නවවැනි පිටුව බලන්න.

(ඉ) මෙහෙයුම් පද්ධති හා බැඳෙන පහත දැක්වෙන වගන්ති **සත්‍ය** ද **අසත්‍ය** ද බව දක්වන්න.

(i) ගොනු තුළ නාමාවලි සහ වෙනත් ගොනු අඩංගු විය හැකි ය.

(ii) යතුරු පුවරුව, සංදර්ශකය හා මුද්‍රකය වැනි ආදාන/ප්‍රතිදාන උපක්‍රම සමඟ අන්තර් ක්‍රියා දැක්වීම මෙහෙයුම් පද්ධතියක එක් කාර්යයක් වේ.

(iii) මෙහෙයුම් පද්ධතියක ප්‍රධාන කාර්යයක් වනුයේ පරිගණකය මෙහෙයවීම සඳහා විධාන පාදක හෝ චිත්‍රක අතුරු මුහුණතක් සැපයීමයි.

(iv) මෙහෙයුම් පද්ධතියක් පරිශීලකයන් වෙත වෙන වෙන ම ප්‍රවේශ (logins) සපයමින් පරිශීලක ගිණුම් කළමනාකරණයට පහසුකම් සලසයි.

3. (අ) වදන් සැකසුම් මෘදුකාංගයක් භාවිතයෙන් කොටසක් හැඩසව් ගන්වන ලද පාඨ ලේඛනයක් **1 වන රූපයෙහි** දැක්වේ. මෙම ලේඛනයෙහි හැඩසව් ගැන්විය යුතු අංග Ⓐ සිට Ⓔ දක්වා වන ලේබල මගින් දක්වා ඇත.

Ⓐ The Three R's of Waste Reduction

Ⓑ The waste disposal of most people is haphazard. Garbage is routinely thrown to road sides in polythene bags. In addition to the waste in their contents, polythene bags themselves, due to their non-degradable nature, will clog drains creating flash floods even from a slight drizzle. They may also create breeding areas for deadly mosquitoes. Some of the waste that is dumped is highly toxic. Some waste like cloth and aluminum may take many years to decompose. Glass has been found in perfect condition even after thousands of years on earth. Many toxic liquids from industry and vehicle service stations are allowed to get absorbed into the earth. Heaps of garbage is unsightly too. The serene environment is under threat.

Ⓒ To ensure a healthy and a livable environment for our future generations we have to stop spoiling our environment and start protecting it. An accepted way of environmental protection is to follow what is known as the 3R method Ⓓ. The Three R's denote reduce, reuse and recycle Ⓔ respectively.

Descriptions of these three techniques are shown in **Table 1.**

**Table 1. The Three R's**

| Technique | Description |
|---|---|
| Reduce | Reducing the amount of waste that is produced |
| Reuse | Instead of throwing things away, reusing them again and again |
| Recycle | Creating new products out of waste |

රූපය 1

ඉහත ලේඛනය හැඩසව් ගැන්වීම සඳහා භාවිත කෙරෙන වදන් සැකසුම් මෘදුකාංගයක අතුරු මුහුණතෙහි ඇති මෙවලම් තීරුව **2 වන රූපයෙහි** දක්වා ඇත. එහි ඇතැම් මෙවලම් අංක 1 සිට 17 දක්වා ලේබල කර ඇත.




රූපය 2

ඉහත **2 වන රූපයෙහි** දක්වා ඇති සුදුසු මෙවලම් භාවිත කර පහත කාර්යයන් සපුරා ගනු ලබන්නේ කෙසේ දැ'යි ලියා දක්වන්න. (සටහන: අවශ්‍ය ප්‍රමාණයට වඩා මෙවලම් දක්වා ඇති විට ලකුණු **නොලැබේ**.)

(i) Ⓐ ලේබලය මගින් දක්වා ඇති, ලේඛනයෙහි මාතෘකාව මධ්‍යගත (center) කිරීම

(ii) ලේඛන මාතෘකාවේ අකුරු වර්ගයෙහි ප්‍රමාණය 15 දක්වා විශාල කිරීම (දැනට ඇති අකුරු වර්ගයෙහි ප්‍රමාණය 12 බවට උපකල්පනය කරන්න)

(iii) ලේඛන මාතෘකාවේ අකුරු කළු (bold) කිරීම

(iv) Ⓑ සහ Ⓒ මගින් දක්වා ඇති ඡේද පෙළ ගැස්වීම (justify)

(v) Ⓓ ලේබලය මගින් දක්වා ඇති පාඨය ඇල කිරීම (italic)

(vi) Ⓔ ලේබලය මගින් දක්වා ඇති පාඨය යටින් ඉරක් ඇඳීම (underline)

(vii) ලේඛනය අක්ෂරාවේක්ෂණය කිරීම (spell check)

(viii) පළමුවන වගුවට (**Table 1**) පසුව අලුතෙන් වගුවක් ලේඛනයට ඇතුළු කිරීම

[දහවැනි පිටුව බලන්න.

(ආ) පහත ① සිට ⑫ දක්වා ලේබලවලින් දැක්වෙන සමර්පණ පිරිසැකසුම් සලකන්න.




රූපය 3

(i) රූපය 3 හි ලේබල් කර ඇති කදා පිරිසැකසුම්වලින් කුමක් සමර්පණයක මාතෘකා කදාවට වඩාත් ම සුදුසු වේ ද?

(ii) සමර්පණ මෘදුකාංගයක අතුරු මුහුණතෙහි ඇති ලේබල කරන ලද පහත දැක්වෙන මෙවලම් තීරුව සලකන්න.




පහත දැක්වෙන දේ ඉටු කර ගැනීම සඳහා ඔබ විසින් භාවිත කරන මෙවලමට අදාළ ලේබලය ලියා දක්වන්න.

(i) කදා දර්ශනයක් (slide show) ලෙස සමර්පණය ක්‍රියාත්මක කිරීම

(ii) සමර්පණයෙහි ඇති සියලු ම කදාවන්හි පෙනුම (සොබාව) වෙනස් කිරීම

**4.** (අ) වසර 2013 දී ශ්‍රී ලංකාවෙහි පළාත් තුනක රජයේ පාසල් කිහිපයක සිසුන්ගේ ගැහැනු පිරිමි බව අනුව වර්ග කළ පහත දක්වා ඇති පැතුරුම්පත් කොටස සලකන්න.

| | A | B | C | D | E | F |
|---|---|---|---|---|---|---|
| 1 | Number of Government Schools By Gender 2013 | | | | | |
| 2 | Province | District | Boys | Girls | Mixed | Total |
| 3 | | Colombo | 37 | 56 | 310 | |
| 4 | Western | Gampaha | 10 | 20 | 501 | |
| 5 | | Kalutara | 6 | 12 | 387 | |
| 6 | | Total | | | | |
| 7 | | Kandy | 14 | 21 | 610 | |
| 8 | Central | Matale | 1 | 3 | 311 | |
| 9 | | Nuwaraeliya | 2 | 5 | 538 | |
| 10 | | Total | 17 | 29 | 1459 | |
| 11 | | Galle | 7 | 10 | 409 | |
| 12 | Southern | Matara | 4 | 4 | 352 | |
| 13 | | Hambantota | 1 | 2 | 313 | |
| 14 | | Total | 12 | 16 | 1074 | |

(Source: http://www.moe.gov.lk/)

(i) බස්නාහිර පළාතේ ඇති මුළු පිරිමි පාසල් සංඛ්‍යාව ගණනය කර පෙන්වීම සඳහා *=function1(cell1:cell2)* ආකාරයෙහි සූත්‍රයක් C6 කෝෂයෙහි ලිවිය යුතුව ඇත.
ඉහත සූත්‍රයෙහි *function1*, *cell1* සහ *cell2* සඳහා වඩාත් ම සුදුසු පද ලියා දක්වන්න.

(ii) C6 කෝෂයට ඇතුළත් කරන ලද සූත්‍රය D6 සහ E6 යන කෝෂ දෙකට ම පිටපත් කළ යුතුව ඇත. මේ සඳහා භාවිත කෙරෙන පියවර Ⓐ, Ⓑ හා Ⓒ ලේබල මගින් පහත දී ඇත. කෙසේ වුව ද එම පියවර නිවැරදි අනුපිළිවෙළ ලෙස දක්වා නැත. Ⓐ සිට Ⓒ දක්වා ලේබල මගින් එම පියවර නිවැරදි අනුපිළිවෙළට දක්වන්න.

Ⓐ පිරවුම් හැඬලය (fill handle) E6 කෝෂයට ඇදගෙන යන්න.

Ⓑ C6 මත ක්ලික් කරන්න.

Ⓒ පිරවුම් හැඬලය මත ක්ලික් කරන්න.

[එකොළොස්වැනි පිටුව බලන්න.

(iii) C6 කෝෂයෙහි ඇති සූත්‍රය D6 කෝෂයට පිටපත් කළ විට D6 කෝෂයෙහි දර්ශනය වන සූත්‍රය කුමක් ද?

(iv) දී ඇති පළාත් තුනෙහි වැඩි ම පිරිමි පාසල් සංඛ්‍යාව C15 කෝෂයෙහි පෙන්වීම සඳහා =*function2(cell3:cell4)* ආකාරයේ සූත්‍රයක් ලිවිය යුතුව ඇත. ඉහත සූත්‍රයෙහි *function2*, *cell3* සහ *cell4* සඳහා වඩාත් ම සුදුසු පද ලියා දක්වන්න.

(v) බස්නාහිර පළාතෙහි දිස්ත්‍රික්ක තුනෙහි පිරිමි පාසල්, ගැහැණු පාසල් සහ මිශ්‍ර පාසල් දැක්වීම සඳහා වඩාත් ම සුදුසු ප්‍රස්තාර ප්‍රරූපය කුමක් ද?

(ආ) *XYZ Sports* ක්‍රීඩා භාණ්ඩ විකුණන වෙළඳසැලකි. ක්‍රීඩා භාණ්ඩ, සැපයුම්කරුවන්, පාරිභෝගිකයින් සහ වෙළෙඳ ගනුදෙනු පිළිබඳ දත්ත, දත්ත පාදක කළමනාකරණ පද්ධතියක් මගින් මෙහි නඩත්තු කෙරේ.

(i) සැපයුම්කරුවකුගෙන් ලැබුණු එක් ක්‍රීඩා භාණ්ඩයක තොගයක් පිළිබඳ වාර්තා තබා ගැනීම සඳහා අත්‍යවශ්‍ය දත්ත අයිතම **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(ii) ගනුදෙනුකරුවකුගේ මිල දී ගැනීමක් වාර්තා කර ගැනීම සඳහා අත්‍යවශ්‍ය දත්ත අයිතම **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(iii) විකුණන ලද අයිතම සංඛ්‍යාව පදනම් කරගනිමින් පසුගිය මාස තුන තුළ වඩාත් ම ජනප්‍රිය ක්‍රීඩා භාණ්ඩ තුන මොනවා දැ'යි දැන ගැනීමට අයිතිකරුට අවශ්‍ය වේ. මෙම සංසිද්ධියට අදාළ 'දත්ත' සහ 'තොරතුරු' හඳුනාගෙන ලියා දක්වන්න.

**5.** (අ) 'නාගයින් සහ ඉනිමං' යනු **1 වන රූපයේ** දැක්වෙන පුවරුවට සමාන පුවරුවක් මත ක්‍රීඩා කරන ළමයින්ගේ ජනප්‍රිය ක්‍රීඩාවකි. මෙම ක්‍රීඩාවේ දී සෑම ක්‍රීඩකයකුම තමන්ගේ සලකුණක් START කොටුවේ තබා ආරම්භ කර, දාදු කැටයක් පෙරළා, එහි දැක්වෙන අංකයට අදාළ කොටු සංඛ්‍යාවක් පුවරුව මත ඉදිරියට ගමන් කරවයි. සලකුණක් සාමාන්‍යයෙන් පහළ සිට ඉහළට සෑම කොටුවක් ම එක් වරක් පසු කරමින් ක්‍රීඩා පුවරුව මත දක්වා ඇති නිශ්චිත ගමන් මගක් අනුගමනය කරයි.

යම් ක්‍රීඩකයකු එක් වාරයක් අවසන් කිරීමේ දී තම සලකුණ ඉනිමගක පහළ අංකය ඇති කොටුවෙහි නතරවුවහොත් එම ක්‍රීඩකයාගේ සලකුණ ඉනිමගෙහි ඉහළ අංකය ඇති කොටුව වෙත ගමන් කළ යුතු ය. යම් ක්‍රීඩකයකු නාගයකුගේ ඉහළ අංකය ඇති කොටුවක නතර වුවහොත් එම ක්‍රීඩකයාගේ සලකුණ නාගයාගේ පහළ අංකය ඇති කොටුවට ගමන් කළ යුතු ය.



රූපය 1

ක්‍රීඩාවෙහි **එක් වාරයක්** සඳහා වන පියවර, සමහර පියවර සඳහා Ⓐ සිට Ⓔ දක්වා ලේබල යොදා ගනිමින් පහත ගැලීම් සටහනෙහි දැක්වේ. ගැලීම් සටහනෙහි Ⓐ සිට Ⓔ දක්වා සඳහන් වන ලේබල සමග පහත ලැයිස්තුවෙහි ඇති වාක්‍ය ඛණ්ඩ ගළපන්න.

{ඉනිමග දිගේ ඉහළට නගින්න, නාගයාගේ හිස මත පතිත වූයේ ද, දාදු කැටය පෙරළන්න, ඉනිමග පාමුල ද, සලකුණ ඉදිරියට ගෙන යන්න}



රූපය 2

(ආ) සංඛ්‍යා දහයක (10) සාමාන්‍යය ගණනය කිරීම සඳහා වන පහත දැක්වෙන ගැලීම් සටහන සලකන්න. මෙහි Ⓟ සිට Ⓣ දක්වා ඇති ලේබල හිස්ව ඇත.




රූපය 3

Ⓟ සිට Ⓣ දක්වා ලේබලවල අඩංගු විය යුතු දේ පහත ලැයිස්තුවෙන් හඳුනාගෙන ලියා දක්වන්න.
$\{0, i, x, \text{yes}, \text{no}\}$

**6.** (අ) Ⓐ සිට Ⓓ ප්‍රකාශන මගින් දක්වා ඇති එක් එක් විස්තරයට ගැළපෙන නිවැරදි පදය දී ඇති පද ලැයිස්තුවෙන් තෝරා ගන්න. Ⓐ සිට Ⓓ දක්වා වන ප්‍රකාශනවලට අදාළ නිවැරදි පදය ලියා දක්වන්න.

{වෛරස පරිලෝකනය (virus scanner), ගුප්ත කේතනය (encryption), ගිනි පවුර (firewall), අනායාචිත (spam) පෙරහන, උපක්‍රම ධාවකය, උපස්ථය (backup), ඩිස්ක නිර්ඛණ්ඩකය (defragmenter)}

Ⓐ මෙහි මූලික අරමුණ මැකීයාමෙන් හෝ විකෘති වීමෙන් අහිමි වන දත්ත නැවත ලබා ගැනීම වේ.

Ⓑ මෙය අනවසර ලෙස හෝ අනවශ්‍ය ලෙස පරිගණක ජාලවලට ප්‍රවේශ වන ප්‍රහාරකයන් වැළැක්වීම සඳහා මෘදුකාංග හෝ දෘඩාංග මගින් නිර්මාණය කරනු ලබන බාධකයකි.

Ⓒ මෙමගින් සරල පාඨ හෝ වෙනත් දත්ත මිනිසාට කියවිය නොහැකි ආකාරයකට පරිවර්තනය කරයි.

Ⓓ මෙය ඉල්ලුම් කර නොමැති හෝ අනවශ්‍ය විද්‍යුත් තැපැල් පැමිණීම් (inbox) වෙත ඇතුළු වීම වළක්වයි.

(ආ) පහත සංසිද්ධිය සලකන්න.

ඔබගේ මිතුරකු අන්තර්ජාලයෙන් මෘදුකාංග බාගෙන සුසංහිත තැටිවලට ගබඩාකර විකුණනු ලබන සාප්පුවකින් මිල දී ගත් වාණිජමය මෘදුකාංගයක පිටපතක් ඔබට ලබාදෙන්නේ යැ'යි උපකල්පනය කරන්න. මෙහි මිල, බලය ලත් නියෝජිතයාගෙන් මිල දී ගන්නා එම මෘදුකාංගයට වඩා බෙහෙවින් අඩු බව ද ඔහු සඳහන් කරයි.

ඔබගේ මිතුරා විසින් ලබාදෙන මෘදුකාංග සුසංහිත තැටිය ඔබ විසින් භාවිත **නොකළ** යුතු වීමට හේතු **දෙකක්** සඳහන් කරන්න.

(ඉ) පහත සඳහන් දෑ සලකන්න.

"සංඛ්‍යාංකිත බෙදුම (digital divide) යනු, ලෝක ජනගහනය තොරතුරු හා සන්නිවේදන තාක්ෂණයට ප්‍රවේශ වීමට ඇති අවස්ථාව, තොරතුරු තාක්ෂණය පිළිබඳ දැනුම හා එමගින් උදාකර දෙන අවස්ථාවන් පිළිබඳ අවබෝධය ඇති සහ නැති වශයෙන් කොටස් දෙකකට බෙදීමයි."

සංඛ්‍යාංකිත බෙදුම යා කිරීමට උපකාර විය හැකි ක්‍රම **දෙකක්** ලියා දක්වන්න.

(ඊ) පහත දී ඇති එක් එක් ප්‍රකාශයෙහි **සත්‍ය** හෝ **අසත්‍ය** බව සඳහන් කරන්න.

(i) අන්තර්ජාලයට සීමා මායිම් නොමැති බැවින් වෙබ් අඩවිවල අන්තර්ගත ඇතැම් දෑ (සූදුව වැනි) ඇතැම් රටක නීතියට අනුකූල වන අතර ඇතැම් රටක නීතියට පටහැනි වේ.

(ii) බලපත්‍ර ලත් මෘදුකාංග නීති විරෝධී ලෙස පිටපත් කිරීම හෝ බෙදා හැරීම පුද්ගලිකත්වය (privacy) වන අතර චෞරත්වය (piracy) යමෙකුගේ පෞද්ගලික තොරතුරු අනවසර ලෙස එළිදරව් වීම වැළැක්වීම හා සම්බන්ධ වේ.

(iii) මහජනතාවට වැදගත් තොරතුරු සපයන වෙබ් සේවාදායකයක පරිගණකයකට බාධාවකින් තොර විදුලි සැපයුම්ක් (UPS) භාවිත කිරීම අවශ්‍ය වන නමුත් පෞද්ගලික භාවිතය සඳහා වන නව උකුල් පරිගණකයකට එය අත්‍යවශ්‍ය නො වේ.

* * *